# කාවන්තිස්ස පෙළපත සුමන රජු හා සැගවීගිය ඉතිහාසය

ගොතම බුදුන් දවස ලංකාව පාලනය කල මහ රජු (සක්විති රජු) මහරජ පනිතය.පණිත රජතුමා පිත මහ රජු ලෙසද හඳුන්වා ඇත.පණිත රජතුමාගේ පුතෙකි පරුමක සුමන එතුමා පණිත රජුගේ භාණ්ඩාගාරික තනතුරද දරා ඇත. මේ පිළිබිඳව සෙල්ලිපි මූලාශ්‍ර ඇසුරින් විමසා බලමු.

පුරාවිද්‍යා ගවේශක ආචාර්ය ජයරත්න පතිර ආරච්චි

උපුටා ගැනීම බුදුන් දවස රුහුණෙහි රජ පෙලපත

1035

මහ රඣහ පණිත බඩකරික පරුමක ශුමන පුත

පරුමක සුමන නොහොත් පසුව සුමන රජු ගොතම බුදුන්ට සමන්ත කූටය පූජාකර අනතුරුව එහි බුදුරජාණන් වහන්සේගේ පාද ලාංජනය පිහිටවූ බව මහාවංශයෙහි සඳහන්වේ.ගොතම බුදුන්ට පිදූ සමන්ත කූටය සෙල්ලිපි ඇසුරින් දකිමු.

දකුණු බුදු සිරිපතුල පිහිටි මක්කම සහ රාවණ රජුගේ සෙල්ලිපි

පුරාවිද්‍යා ගවේශක ආචාර්ය ජයරත්න පතිර ආරච්චි

ප රු ම ක ශු ම න කුට ගොතම ශමණෝ

අගත අනගත චතු දිශ ශගශ ශුවන් යානය

බැණ සමණළ ගිරිලිපිය

පරුමක සුමන සිටියේ ගොතම බුද්ධ කාලයේ බව මෙම සෙල්ලිපි තුලින් පැහදිලිවේ. පරුමක සුමන ගේ පුතුන් දස දෙනාගෙන් එක් පුත්‍රයෙකි පරුමක වෙම, වෙම පරුමක සුමන්ගේ පුතෙකු බවට සෙල්ලිපි සාදක ඇසුරින් පහත දැක්වේ.




**පිත මහරකඩහ බඩකරික පරුමක ශුමන පුත පරුමක වෙමශ ලෙණෙ රකඩතිශහ රකඩි යශි නියතෙ අගත අනගත බගවත සගස.** (I C. PLATE, LXIX.661)

පරුමක සුමනගේ තවත් පුත්‍රයෙකි දමරජ පරුමක සුමනගේ පුත්‍රයෙකු වූ දම රජුගේ පුතෙකි මහාතිස්ස එය සෙල්ලිපි තුලින් මෙසේ වේ.




**ශුමණ පුත දශබතිකන කෙඩටෙ ශව කෙඩවුහ පුතෙ දමරකඩ දමරකඩහ පුතෙ මහතිශ අයෙ කරිතෙ ඉම ලෙණෙ මහශුදශන ශගශ දිනෙ. (**I C. 549**)**

මහාතිස්සගේ දියණිය වන්නේ අභිශවෙරය සෙල්ලිපි තුලින් මෙසේය. අභිශෙවෙර යනුවෙන් හදුන්වන්නේ විහාර මහාදේවියයි එය මෙසේ සෙල්ලිපි තුලින් දැක්විය හැක.

Damarajha-puta MahatiŚa-ayaha jhita Abi-Śavera Ayabaya-puta TiŚa-Ayaha jhaya Abi-Śaveraya dane ŚagaŚa dine. ( I C No. 556.)

**දමරකඩහ-පුත-මහතිශ-අයහ-කඩිත-අබි-ශවෙර-අයබය-පුත-තිශ-අයහ-කඩය-අබි-ශවෙරය-දනෙ-ශගශ-දිනෙ.** (I C No. 556.)

දමරජුගේ පුතා මහතිශඅය ය. මොහුගේ දියණිය අබිශවෙර ය. අයබය ගේ පුතා තිශඅය ය. මොහුගේ බිරිය අබිශවෙරය. අයබය අයඅබය වේ. තිශඅය අයතිශ වේ. අය යනු උප යන අර්ථය දෙන වචනයකි. ඒ අනුව යුවරජ යන අර්ථය ලැබේ. අයතිශ රජ වූ විට රජතිස වේ. රකඩතිශ ගේ බිරිය අබිශවෙර වේ. අබිශවෙර යන විරුදය දැරුවේ විහාරමහාදේවිය ය. විහාරමහාදේවිගේ සැමියා වුයේ තිශ>තිස්ස ය. මොහු මහවංශයෙහි සඳහන් වන කාවණ්තිස්ස මහරජතුමාය. දෙවනපිය උපපදය පළමුව භාවිත කර ඇත්තේ මතු උපදින මෙතේ බෝසතුන් ගේ පිය විමට විවරණ ලැබූ දෙවනපියගේ තිස්සරජතුමා දේවානම්පියතිස්ස රජතුමාය. මෙම තොරතුරු අනුව රුහුණෙහි රජ පෙළපතක් නොතිබිද

විහාර මහාදේ වියගේ සැමියා වන්නේ කාවන්තිස්ස රජුවේ එතුමාව
අයතිශ,රකඩතිශ,තිශමහරකඩ,දෙවනපිය රකඩතිශ යන් නාම වලින්
හඳුන් වනු ලබයි.සෙල්ලිපි තුලින් එතුමා හැඳින් වූ නම් විමසා බලමු.

**(තිශමහරකඩහ ශෙනපතිය අගිදතහ බරියය ශෙනපති පරුමක පුශදෙවහ කඩිතය උපශික නගය ලෙණෙ ශගශ දිනි.** IC. N0. 724,725. )






**තිශමහරකඩහ ශෙනපතිය අගිදතහ බරියය ශෙනපති පරුමක පුශදෙවහ කඩිතය උපශික නගය ලෙණෙ ශගශ දිනි.** (IC. N0. 724, 725.)




**පිත මහරකඩහ බඩකරික පරුමක ශුමන පුත පරුමක චෙමශ ලෙණෙ රකඩතිශහ රකඩි යගි නියතෙ අගත අනගත බගවත සගස.** (I C. PLATE, LXIX.661)

## <u>දේවානම් පියතිස්ස රජු යනු කාවන්තිස්ස රජුද?</u>

කාවන්තිස්ස රජු දේවානම් පියතිස්ස ලෙස හැදුන්වා තිබේ. එසේනම් දේවානම් පියතිස්ස රජු යනු කාවන්තිස්ස රජුද? කාවන්තිස්ස රජුගේ යෝධයන් ගෙන් එක් අයෙකි වේළුසුමන මහාවංශයෙන් එය මෙසේ උපුටා දැක් වියහැක.

**මහාවංශය සිංහල**

කිරම විමලජෝති ස්ථවිර
අධ්‍යක්ෂ,
බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය,
නැදිමාල - දෙහිවල.

51 රජ තෙමේ ඒ බිසවුන් ඉතිරි දොළ සපයන්ට <u>වේළුසුමන නම්</u>
52 <u>යෝධයා</u> මෙහෙයි. ඒ තෙමේ අනුරාපුර ගොස් එහි රජු මඟුලසුගේ
අස් ගොව්වා සමග මිතුරුව හැම කල ඔහුගේ කෘත්‍යය ද කෙළේ ය. ඒ
53 අත්ගොව් යහළු බැව් දුත පෙරවරුම උපුල් මල් හා කඩුව කොළොම්
තොර් තෙර තබා සැක නැත්තේ අසු ගෙණ ගොස් උහු පිට නැගී
54 උපුල්මල් හා කඩුව ගෙණ මම කාවන්තිස් රජු <u>වේළුසුමන</u> යෙමි.

**පරුමක වෙලු පුත පරුමක මිතග ලෙණෙ. (I C 612.)**
මෙම ලිපියේ සඳහන් වන මිතගේ(මිත්තගේ)පියා වෙලුය.කාවණ්තිස්ස මහරජතුමාගේ අයකැමි වූ පුශදෙවශ(පුස්සදේවගේ)පියා ද වෙලුය. මෙම දෙදෙනාගේ පියා වෙලුශුමන (වේලුසුමන>වේළුසුමන) ය. වේළුසුමන යෝධයාණෝ විහාරමහාදේවියගේ දොළදුකක් සංසිඳවීම සඳහා යම් අප්‍රසන්න දෙයක් රැගෙන එමට අනුරාධපුරයට ගිය අපූරු කතාවක් මහාවංශයේ සඳහන්ය.

**පරුමක පුශදෙව සඩිත අය පුශදෙවහ සඩිය අබි අනුරදිය ලෙණෙ. (I C. 655.)**
මෙම ගල්ලෙණ කරවා ඇත්තේ යුව රැජිනක් වූ අනුරාදි කුමරිය යි. මෙතුමිය අය පුස්සදේවගේ බිරිය වූ අතර මෙතුමියගේ පියා වූයේ පරුමක පුස්සදේවය. පුස්සදේවගේ පියා වූයේ වේලුසුමනගේ පුත්‍රයෙකු වූ වෙලු බව ඉහත පෙන්වා දී ඇත. මහාවංශයේ "**වෙලො** ජානපදො තස්ස සුමනො ගිරිභොජකො" යනුවෙන් සඳහන් වන්නේ පුස්සදේවගේ උපන් ග්‍රාමය ය. එසේම එුස්සදේවගේ දියණියක් වූ නාගා උපාසිකාව ගල්ලෙණක් කරවමින් තමා තිස්ස මහරජතුමාගේ සේනාධිපති අග්ගිදත්තගේ ගේ බිරිය බවත්, සේනාධිපති වූ එුස්සදේවගේ දියණිය බවත් ප්‍රකාශ කර තිබේ.

වේළුසුමනගේ පුතා වේළුය ඔහුද කාවන්තිස්ස රජුගේ අයකැමි ලෙස සේවය කොට ඇත එසේ

නම් දේවානම් පියතිස්ස ලෙස හැඳින් වූයේ කාවන් තිස්ස රජු බවට සෙල්ලිපි තුලින් මෙසේ දැක්විය හැක.




මීට අමතරව දුටුගැමුණු නොහොත් ගමිණි අභය රජුගේ සෙල්ලිපි ඇසුරින්ද එය මෙසේ දැක් වියහැක.



මහරකඩහ ගමණි අබයහ දෙවනපියශ රමණි බරිය **<u>මිලක තිශ විහර</u>** කරිතෙ කතිය. පතිරආරච්චි කියවීම.

MAHARAJHAHA GAMAṆI ABAYAHA DEVANAPIYAŚA RAMAṆI BARIYA MILAKA TIŚA VIHARA KĀRITE KATIYA.

*INSCRIPTIONS OF CEYLON. VOLUME I PLATE XX 193.*

සුමන රජු සිටියේ ගොතම බුදුන් ජීවමාන සමයේ බව පැහැදිලිය.සුමන රජුට විහාර මහා දේවිය වන තෙක් පැහැදිලි පරම්පරවක් තිබුණු බව දැන් පැහැදිලිවී ඇත.එසේ නම් අප පැවත් එන්නේ ඉන්දියාවෙන්ද ? විජය රජුගෙන්ද?

එසේනම් හෙළ ඉතිහාසය කොතෙක් දුරට විකුර්තිවී ඇත්ද? එය නැවත නිසි පුරාවිද්‍යාත්මක ගවේශනයක් තුලින් නැවත ප්‍රතිස්ථාපනය කිරිමට කාලය මෙය නොවෙද?

~ සත්‍ය ගවේශකයන් ~